(නව නිර්දේශය/புதிய பாடத்திட்டம்/New Syllabus)

NEW

ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව
இலங்கைப் பரீட்சைத் திணைக்களம்
Department of Examinations, Sri Lanka

15 S I, II

අධ්‍යයන පොදු සහතික පත්‍ර (සාමාන්‍ය පෙළ) විභාගය, 2017 දෙසැම්බර්
கல்விப் பொதுத் தராதரப் பத்திர (சாதாரண தர)ப் பரீட்சை, 2017 டிசெம்பர்
General Certificate of Education (Ord. Level) Examination, December 2017

ක්‍රිස්තියානි ධර්මය I, II
கிறிஸ்தவம் I, II
Christianity I, II

## ක්‍රිස්තියානි ධර්මය II

* **පළමුවන** ප්‍රශ්නය හා තෝරාගත් තවත් ප්‍රශ්න **හතරක්** ඇතුළුව ප්‍රශ්න **පහකට** පිළිතුරු සපයන්න.
* පළමුවන ප්‍රශ්නයට ලකුණු **20** ක් ද, තෝරා ගන්නා එක් ප්‍රශ්නයකට ලකුණු **10** බැගින් ද හිමි වේ.

**1.** (i) "**අන්ධකාරයේ** ඇවිද්ද සෙනඟ මහත් **ආලෝකයක්** දුටුවෝ ය."මෙහි තද කළු අකුරින් දක්වා ඇති පද **දෙකෙන්** අදහස් කරන්නේ කුමක් ද?

(ii) ස්නාවක ජොහන්ගේ චරිතයෙන් අපට අනුගත කරගත හැකි චරිතාංග දෙකක් වන නිහතමානිබව හා එඩිතරබව දැක්වෙන අවස්ථා එක බැගින් ඉදිරිපත් කරන්න.

(iii) මෙසියානු සංකල්පය හා බැඳුණු විශේෂ ලක්ෂණ **දෙකක්** ලියන්න.

(iv) (අ) පෙන්තකොස්ත මංගල්‍යය ජුදෙව් ජනතාවට විශේෂ වූයේ කෙසේ ද?
(ආ) කිතුනු අපට පෙන්තකොස්ත දිනය විශේෂ වන්නේ කුමක් හෙයින් ද?

(v) සද්දුසිවරු ජේසුස් වහන්සේට ඉදිරිපත් කළ ප්‍රශ්න **දෙකක්** ගෙනහැර දක්වන්න.

(vi) (අ) ජේසුස් වහන්සේගේ ඉගැන්වීම්වල මූලික තේමාව කුමක් ද?
(ආ) එම තේමාව ප්‍රකාශ කිරීමට හා ක්‍රියාත්මක කිරීමට යොදා ගත් එක් පියවරක් ඉදිරිපත් කරන්න.

(vii) රූප විපර්යාස සිද්ධිය අවස්ථාවේ ජේසුස් වහන්සේ දෙපස දර්ශනය වූ දෙදෙනාගෙන් එක් අයකු නම් කර, ඔවුන් ජේසුස් වහන්සේ සමඟ සාකච්ඡා කළේ කුමක් දැයි සඳහන් කරන්න.

(viii) පාවුල්තුමා දහම් සේවයේ නිරත වීමේ දී ස්ථානෝචිත ප්‍රඥාවෙන් ක්‍රියා කළ අවස්ථා **දෙකකට** උදාහරණ දෙන්න.

(ix) 'සැබෑ මිදිවැල' යන රූපකය මගින් ජේසුස් වහන්සේ ඉදිරිපත් කරන ලද පණිවිඩ **දෙකක්** අප ජීවිතයට වැදගත් වන්නේ කෙසේ ද?

(x) සමාජ සාධාරණත්වයේ වැදගත්කම දැක්වූ දිවැසිවරයා හා දෙවියන් වහන්සේගේ ශුද්ධභාවය ප්‍රකාශ කළ දිවැසිවරයා පිළිවෙළින් නම් කරන්න.

**2.** "නුඹේ දෙවි වන ස්වාමීන් වහන්සේට පමණක් නමස්කාර කරන්න."

(i) මෙම වදන ජේසුස් වහන්සේ ප්‍රකාශ කළ අවස්ථාව ලුහුඬින් ඉදිරිපත් කරන්න.

(ii) අද අප සිත් හඹා යන ලෞකිකත්වයේ ලක්ෂණ **තුනක්** ලියන්න.

(iii) එබඳු ලක්ෂණ අභිබවා කිතුනු අප ක්‍රියා කළ යුතු අන්දම පැහැදිලි කිරීමට කරුණු **පහක්** ඉදිරිපත් කරන්න.

**3.** "දේව රාජ්‍යය ඔබ අතරේ ය."යි ජේසුස් වහන්සේ ප්‍රකාශ කළ සේක.

(i) ඉහත ප්‍රකාශය අනුව දේව රාජ්‍යය පිළිබඳව කරුණු **දෙකක්** ලියන්න.

(ii) දේව රාජ්‍යයේ පුරවැසියන් තුළ ගැබ්වී තිබිය යුතු විශේෂිත ගුණාංග **තුනක්** ඉදිරිපත් කරන්න.

(iii) කිතුනු ඔබ දේව රාජ්‍යයේ පුරවැසියෙකු ලෙස දේව රාජ්‍යයේ වටිනාකම් එළිදැක්විය යුත්තේ කෙසේ දැයි කරුණු **පහක්** ඇසුරින් පැහැදිලි කරන්න.

**4.** (i) ජේසුස් වහන්සේ ක්‍රියාත්මක කළ ප්‍රාතිහාර්ය වර්ග කළ හැක්කේ කුමන කාණ්ඩවලට ද?

(ii) එයින් කාණ්ඩ **තුනක්** තෝරා, ඒවා කෙරෙහි ජේසුස් වහන්සේගේ ආධිපත්‍යය අනාවරණය වූ අන්දම සනාථ කිරීමට උදාහරණය බැගින් ලියන්න.

(iii) ඔබ හෝ ඔබ දන්නා කෙනෙක් අත්දුටු ප්‍රාතිහාර්යයක් සඳහන් කර, ඒ සඳහා දේව රාජ්‍යය වෙනුවෙන් ජේසුස් වහන්සේ අපෙන් බලාපොරොත්තු වන ප්‍රතිචාර පැහැදිලි කරන්න.

[හයවැනි පිටුව බලන්න

5. (i) "රන්වත් රිදීවත් මට නැත.... ජේසුස් වහන්සේගේ නාමයෙන් ඇවිදින්න."
   (අ) මෙසේ පැවසුවේ කවුරුන් විසින් ද?
   (ආ) ඊට අදාළ වූ පසුබිම කුමක් වී ද?

   (ii) එම අවස්ථාවේ සුවපත් වූ පුද්ගලයා පූර්ණ සුවය ලැබූ බවට ඔහුගේ කුමන ක්‍රියා සාක්ෂි ලෙස දැක්විය හැකි ද?

   (iii) ඉහත සිද්ධිය ආශ්‍රිතව ඊට සමානව ඔබට ඉදිරිපත් වන අභියෝගයකට ඔබ දක්වන විවිධ ප්‍රතිචාර කවරේ දැයි පහදන්න.

6. "අප වෙසෙන්නේ බහුවිධ සමාජයක ය."

   (i) පාවුල්තුමා සිය තෙවන ධර්මදූත චාරිකාවේ දී එපීසයේ දුටු විවිධ ඇදහීම් හා මතවාද කවරේ ද?

   (ii) එපීසයේ තිබූ එම ඇදහීම් හා මතවාද, ආදී අභියෝග කෙරෙහි පාවුල්තුමාගේ ප්‍රතිචාර කෙසේ වී ද?

   (iii) ඉහත සඳහන් සිද්ධි ආශ්‍රිතව පාවුල්තුමාගේ ප්‍රතිචාර දැක්වීමට අනුව වත්මන් ශ්‍රී ලංකාවේ ඔබ අත් දකින්නා වූ මේ හා සමාන සිද්ධිවලට ඔබේ ප්‍රතිචාර කෙසේ විය යුතු ද?

7. පහත සඳහන් මාතෘකාවලින් **දෙකක්** තෝරා ගෙන, බයිබලයෙන් උදාහරණ සහිතව කෙටි සටහන් ලියන්න.

   (i) නූතන සභාවලට මුල් කිතුනු සභාවේ විශේෂ වටිනාකම්වල ඇති වැදගත්කම

   (ii) කිතුනු බෞතිස්මය

   (iii) සාමය උදෙසා කැප වෙමු

   (iv) ජෙරුසලමේ මන්ත්‍රණ සභාව

***

**31.** පහත සඳහන් වන්නේ ජේසුස් වහන්සේ විසින් ජනතාව හා සම්බන්ධ වූ ස්ථාන, කැඳවීම හා ඔවුන්ගේ ප්‍රතිචාර ය.

| | ස්ථානය | කැඳවීම | ප්‍රතිචාරය |
|---|---|---|---|
| A | නාසරත්හි සිනගෝගය | දෙවියන් වහන්සේගේ මෙහෙවරට | ජනතාව සිනගෝගය තුළ ම රැඳී සිටීම |
| B | තිබේරියස් විල අසල | ජනතාවට දේශනා කිරීම | මුළු ජනතාව ම සවන්දීමෙන් පමණක් සිටීම |
| C | ජේසුස් වහන්සේ සිටි තැනම | ශ්‍රාවකයන් 12 දෙනා සහ 70 දෙනා | උන් වහන්සේගේ නාමයෙන් පිටත්ව යෑම |
| D | ගලීලයේ මුහුද අසල | පේදුරුට කළ අභියෝගය | ජේසුස් වහන්සේගේ ප්‍රේරිතයෙක් වීම |

මේවා අතුරින් කිතුනු මෙහෙවරෙහි යෙදෙන ඔබ **නොදැක්වියයුතු** ප්‍රතිචාර මොනවා ද?

(1) A සහ B ය. (2) A සහ C ය. (3) B සහ D ය. (4) C සහ D ය.

**32.** කුණාටුව මැද පාවුල් සිරකරුවකු වුව ද ඔහුගේ ක්‍රියා කලාපය මගින් අප ජීවිතවලට චරිතායනය කළ යුත්තේ,
(1) ජීවිතය සුළි සුළං කුණාටුවලට අසුවීමට හැකි බව ය.
(2) ජීවිතයේ අර්බුද මධ්‍යයේ වුව ද දෙවියන් වහන්සේට සාක්ෂි දැරීම ය.
(3) නැවියන් හා අධිපතින්ගේ තීරණ නිවැරදි බවට පිළිගැනීම ය.
(4) දෙවියන් වහන්සේ නිතර දර්ශන මගින් කථා කරන බව ය.

**33.** ගලාතිවාසීන්ට යැවූ පාවුල්තුමාගේ ලිපිය අනුව අද තරුණ පරපුරට අභියෝග කරන්නේ,
(1) වෛරය, ඊර්ෂ්‍යාව, මත්ද්‍රව්‍ය හා සුරාසූදුවෙන් වැලකී සිටීමට ය.
(2) තමාට ප්‍රේම කරන අයට පමණක් ඉවසීම හා මෘදුකමින් සැලකීමට ය.
(3) තමාට කරුණාව දක්වන අයට සමා වීමට ය.
(4) වරදට පොලඹවන සම වයස් කණ්ඩායමෙන් ඈත් වීමට ය.

**34.** සහජීවනයෙන් බහුවිධ සමාජයක ජීවත්වන කිතුනුවකු අවනත **නොවිය** යුත්තේ,
(1) අන්‍ය ආගමිකයන් හා ජාතීන් සමග ඔවුන්ගේ උත්සවවලට සහභාගි වීම ය.
(2) සංස්කෘති උත්සව ආදියේ දී කිතුනු අනන්‍යතාව රැක ගැනීම ය.
(3) සියලු ආගම්වල සමානත්වයක් ඇති බව පිළිගැනීම ය.
(4) සමාජ සේවා ක්‍රියාවලියේ දී සියලු දෙනා සමඟ එක්වීම ය.

**35.** පහත සඳහන් කරුණු සැලකිල්ලට ගන්න.
A - ජීවිත නවෝදය ගැන උදම් වීම
B - දේව හඬට කීකරු වී ශුද්ධාත්ම බලයෙන් සවිය ලැබීම
C - දුක් පීඩා මධ්‍යයේ වුවත් ධෛර්යයෙන් අභියෝගවලට මුහුණ දීම
D - තමා ගන්නා තීරණ සෑම විට ම දේව කැමැත්ත ලෙස සැලකීම
මේ අතුරින් සැබෑ ජීවිත පරිවර්තනයක් අත්දුටු පාවුල්තුමාගෙන් කිතුනුවකු චරිතායනය කළ යුත්තේ,
(1) A සහ B ය. (2) A සහ D ය. (3) B සහ C ය. (4) B සහ D ය.

**36.** ගරු මයිකල් ලැප්ස්ලි දේවගැතිතුමා වැදගත් වන්නේ කුමක් නිසා ද?
(1) දකුණු අප්‍රිකාවේ කළු සුදු භේදය අතර සාමයට ක්‍රියා කිරීම නිසා ය.
(2) ඇමරිකාවේ කළු සුදු භේදයට එරෙහිව නැගී සිටීම නිසා ය.
(3) පිවිතුරු ජීවිතයකට ජනතාව කැඳවීමේ මෙහෙවර නිසා ය.
(4) දුගී අයගේ ජීවිත නගා සිටුවීමට ක්‍රියා කිරීම නිසා ය.

**37.** ජේසුස් වහන්සේ අනුගාමී වන අය සෞභාග්‍ය ජීවිතයක් අපේක්ෂා **නොකළයුතු** බව ප්‍රකාශ වන්නේ කවර ප්‍රකාශයෙන් ද?
(1) නගුලට අත තබා ආපසු බලන කෙනෙක් දේව රාජ්‍යයට පටහැනි නොවේ.
(2) මළවුන් භූමදානය අප සතු වගකීමකි.
(3) හිවලුන්ට බෙන ද, පක්ෂීන්ට කැදලි ද, ඇත. මනුෂ්‍ය පුත්‍රයාට හිස තැබීමට තැනක් නැත.
(4) පළමුව 'පවුලෙන් සමුගෙන' ඉන් අනතුරුව ඔබ වහන්සේ අනුගාමී වෙමි.

**38.** "ඔබ කළ වරදට මම කමාව දෙමි" කියා පවසා, ජේසුස් වහන්සේගේ උතුම් ගුණාංගය ක්‍රියාත්මක කළ මෑතකාලීන පුද්ගලයකු නම්,
(1) දෙවන ජුවාම් පාවුලු පාප්තුමා ය. (2) ගරු චන්ද්‍ර ප්‍රනාන්දු දේවගැතිතුමා ය.
(3) තිස්ස බාලසූරිය පියතුමා ය. (4) නෙල්සන් මැන්ඩලා ය.

**39.** ජේසුස් වහන්සේගේ මිත්‍රයෙකු ලෙස අන්ත දුක් පීඩාවලට මුහුණදීමේ දී අපේ ප්‍රතිචාර විය යුත්තේ,
(1) එම තත්ත්වය වෙනස් කිරීමට සෑම ප්‍රයත්නයක් ම දැරීම ය.
(2) "දේව කැමැත්ත වේවා" කියා යාච්ඤා කිරීම ය.
(3) අපට උදව් වන අය සමග මිත්‍ර සබඳතාවක් ගොඩනගා ගැනීම ය.
(4) අපේ ම අභ්‍යන්තර ශක්තියෙන් එය දරා ගැනීමට යොමු වීම ය.

**40.** "තමන්ගේ කඩුවලින් නගුල් තල ද, හෙල්ලවලින් දෑකැති ද, තලා ගනු ලබයි." දිවැසිවර මීකා මෙමගින් අනාවරණය කරනුයේ,
(1) යුද්ධය අවසන් වූ බව ය.
(2) යුද්ධ ආම්පන්න වෙනුවට කෘෂි ආම්පන්න මගින් සෞභාග්‍යය උදා කරන බවයි.
(3) විනාශකාරී යුද්ධයු සඳහා කඩු හා හෙල්ල අවශ්‍ය බවයි.
(4) කෘෂි ආර්ථිකයක් ඉතා වටිනා බවයි.

**20.** "ඒකාන්තයෙන් ම සමිඳාණන් වහන්සේ නැඟිට සිටින සේක." මෙසේ ප්‍රකාශ කර, නව බලාපොරොත්තුවක් දුන්නේ
(1) එම්මාවුස් ගමට යමින් සිටි ගෝලයන් දෙදෙනා ය. (2) සොහොන වෙත ගිය ස්ත්‍රීන් ය.
(3) මග්දලායේ මරියා ය. (4) අන් ගෝලයන් වෙත ගිය පේදුරු ය.

**21.** ආධ්‍යාත්මික දිළිඳුකම පිටුදැකීම සඳහා කිතුනුවන්
(1) සම්පත් නිසි පරිදි බෙදී යෑමට ක්‍රියා කළ යුතු ය.
(2) දිනපතා ම ආගමික වතාවත්වලට සහභාගි විය යුතු ය.
(3) ස්වර්ගික වස්තු රැස් කිරීමෙහිලා සිත් යොමු කර ක්‍රියා කළ යුතු ය.
(4) ලෞකිකත්වයේ ජීවත්වෙමින් ආධ්‍යාත්මික බව පෙන්නුම් කළ යුතු ය.

**22.** ජේසුස් වහන්සේගේ දුක් විඳීම හා මරණය ආශ්‍රිතව සත්‍ය පහදා ගෙන එයට සාක්ෂි දැරුවේ,
(1) මුර සෙබළුන් ය. (2) අරමාතියේ ජෝසප් ය.
(3) ජෙරුසලමේ ස්ත්‍රීන් ය. (4) කිරේනියේ සීමොන් ය.

**23.** අද සමාජයේ යුක්තියට පිටු පා තම හෘද සාක්ෂියට විරුද්ධව තම ජනප්‍රියභාවය සඳහා ක්‍රියා කරන අය සමාන වන්නේ,
(1) පේදුරුතුමාට ය. (2) පිලාත් ආණ්ඩුකාරයාට ය.
(3) ස්නාවක ජොහන්ට ය. (4) මග්දලායේ මරියාට ය.

**24.** ජේසුස් වහන්සේ නැවත වඩින මොහොත පිළිබඳව කිතුනුවනට දී ඇති මග පෙන්වීම,
(1) ඔබේ ඉඟපටිය බැඳ පහන් දල්වා තබා ගන්න.
(2) ගෙය බිඳීමට පැමිණෙන සොරකු මෙන් නොව දන්වා පැමිණෙන්නේ ය.
(3) පැමිණෙන මොහොත හා දවස දේව වචනයේ ලියා ඇත.
(4) එකිනෙකාට ඔවුන්ගේ ක්‍රියා අනුව නොව සාමූහික විපාක දෙන බව ය.

**25.** පාවුල්තුමාගේ ඉගැන්වීම් අනුව සදහට ම පවතින ශ්‍රේෂ්ඨතම ධර්මතාව වන්නේ,
(1) දිවැස් වැකි දෙසීම ය. (2) අන්‍ය භාෂාවලින් කථා කිරීම ය.
(3) ඉවසිලිවන්ත බව ය. (4) ප්‍රේමය ය.

**26.** පහත සඳහන් කරුණු සැලකිල්ලට ගන්න.
A - මෘදු ලීලාවෙන් නිහතමානීව දුක හා පීඩා දරා ගනියි.
B - රාජකීය දේශපාලන භූමිකාවක් දියත් කරයි.
C - එතුමාණන්ගේ මරණය පව් කමාව සඳහා පූජාවකි.
D - පෙනුමෙන් එතුමා ඉතා ලස්සන ය.
මේවා අතුරින් යෙසායා දිවැසිවරයාගේ පැවසීම අනුව දුක් විඳින සේවකයාණෝ තුළ ගැබ් වී ඇති ලක්ෂණ වන්නේ,
(1) A සහ B ය. (2) A සහ C ය. (3) A සහ D ය. (4) B සහ D ය.

**27.** කමාව පිළිබඳ ජේසුස් වහන්සේගේ ඉගැන්වීම
(1) සීමාරහිතව කමා වී, කමාව ලබා ගැනීමට අන් අයට කමා විය යුතු බවයි.
(2) සහෝදරයනට සත්වරක් කමා වීම සෑහේ.
(3) යාච්ඤාවෙන් කමාව අයැදීම අවශ්‍ය නැති බවයි.
(4) කමා වන විට නිතර ම කොන්දේසි පැනවිය යුතු බවයි.

**28.** සදාතන ජීවනය වන කිතුනු බලාපොරොත්තුව ඉටු කර ගැනීමට නම්,
(1) ධර්මිෂ්ඨකම, ජේසුස් වහන්සේ සමග ඒකාබද්ධ වීම හා උතුම් ප්‍රීතිය තිබිය යුතුයි.
(2) ශුද්ධකම, ධර්මිෂ්ඨකම හා බෙදා ගැනීම අවශ්‍යයයි.
(3) දේව මහිමය ගැන උතුම් ප්‍රීතිය, ශුද්ධකම හා ධර්මිෂ්ඨකම තිබිය යුතුයි.
(4) ජේසුස් වහන්සේ සමග එකාබද්ධ වීම, ධර්මිෂ්ඨකම හා සමාව තිබිය යුතුයි.

**29.** මුල් කිතුනු සභාව තුළ දක්නට ලැබුණු යහපත් ගුණාංග කිහිපයක් පහත සඳහන් වේ.
A - සියල්ල පොදුවේ තබා ගන්නා ලදී.
B - උපස්ථායක කණ්ඩායමක් පත් කරන ලදී.
C - දේව වචනය දේශනා කිරීමේ යෙදුණි.
D - එක්සිත්ව සහභාගි වෙමින් යාච්ඤාවේ යෙදුණි.
මේ අතුරින් සමානාත්මතාව තහවුරු කිරීමට ගත් පියවර වනුයේ,
(1) A සහ B ය. (2) A සහ C ය. (3) A සහ D ය. (4) B සහ D ය.

**30.** ආත්මික පිපාසයට ජීවන ජලය ලබා දෙමින් දේව රාජ්‍යයට මග පෙන්වූ අවස්ථාවක් වනුයේ,
(1) සමාරිත ස්ත්‍රිය සමග ජේසුස් වහන්සේ පැවැත්වූ සංවාදය ය.
(2) මතෙව් කැඳවූ අවස්ථාවේ සංවාදය ය.
(3) පේදුරුගේ අපලාපය ය.
(4) නිකදේමුස් සමග පැවැත්වූ සංවාදය ය.

9. "මාගේ මෑණියෝත්, සහෝදරයෝත් නම් දෙවියන් වහන්සේගේ වචන අසා ඒවා පිළිපදින්නෝ වෙති." ජේසුස් වහන්සේ මෙසේ පැවසීමෙන් අනාවරණය කළේ,
   (1) දේව වචන ඇසීමේ වැදගත්කම පෙන්වීම ය.
   (2) දේව රාජ්‍යයේ ගුණාංග ක්‍රියාත්මක කිරීමේ වැදගත්කම ය.
   (3) පවුලේ නිර්මාතෘවරයා මැවුම්කාර දෙවියන් වහන්සේ බව ය.
   (4) ලේ නෑකම අභිබවා යන නව පවුල් සංකල්පය ස්ථාපිත කිරීම ය.

10. "ධනවත් වූ ඔබට වන විපතක මහත..." මෙය සම්පූර්ණ කිරීමට ගැළපෙන නිවැරදි ප්‍රකාශය තෝරන්න.
   (1) ඔබේ සැපවත් ජීවිතය විඳ හමාර ය.
   (2) ඔබට සාගිනි වනු ඇත.
   (3) ඔබ ව්‍යාජ පැසසුම්වලට ලක් වනු ඇත.
   (4) ඔබ හඬා වැලපෙනු ඇත.

11. පෞද්ගලික අවශ්‍යතා ගැන කරදර වීමේ නිශ්ඵල බව දැක්වීමට ජේසුස් වහන්සේ ඉදිරිපත් කළ රූපක දෙක වනුයේ,
   (1) පොළොවේ ලුණු සහ ආලෝකය ය.
   (2) කෙතේ මානෙල් සහ ආකාශයේ පක්ෂීන් ය.
   (3) දුගී කාන්තාවගේ පඩුරු දෙක ම පූජා කිරීම ය.
   (4) අත්තිවාරම් දෙක ය.

12. ආබ්‍රහම්ගේ ජීවිතයෙන් කිතුනුවා චරිතායනය කළ යුතු වැදගත් ම ගුණාංගය වනුයේ,
   (1) ස්ථිර ඇදහිල්ලෙන් දේව කැඳවීමට අවනත වීම ය.
   (2) සමාජ සාරධර්ම රක්ෂා කිරීමට ඇපකැප වීම ය.
   (3) සිය පරමාර්ථ නිසි ලෙස ඉටුකර ගැනීම ය.
   (4) අන්‍යයන්ට ආසිරි පැතීමෙන් කල් යැවීම ය.

13. පාවුල්ගේ ජීවිතයෙන් සහ ධර්මදූත සේවාවලින් කිතුනුවන් අනුගමනය **නොකළයුතු** වන්නේ,
   (1) ධෛර්ය හා නොපසුබට වීර්යෙන් සාක්ෂි දැරීම ය.
   (2) පීඩා මධ්‍යයේ වුව ද දේව ප්‍රශංසාවට යොමු වීම ය.
   (3) දෙවන මිෂනාරි ගමනට ජොහන් මාක් සහභාගී නොකර ගැනීම ය.
   (4) දේව හඬට කීකරුවීම හා යුක්තිය සඳහා නැඟී සිටීම ය.

14. "මාගේ ගෘහය යාච්ඤා ගෘහයක් යැයි ලියා ඇත. එහෙත් ඔබ එය සොරුන්ගේ ගුහාවක් කර තිබේ." මෙම ප්‍රකාශයෙන් ජේසුස් වහන්සේ ඉදිරිපත් කළ සත්‍යය වන්නේ,
   (1) වංචාකරුවන්ට සහ පව්කරුවන්ට දෙව්මැඳුරට පිවිසීමට ඉඩ නොදීම ය.
   (2) දේවස්ථාන පොදු නමස්කාරයට පමණක් විවෘත කිරීම ය.
   (3) දෙව් මැඳුර සත්‍යයෙන් සහ ආත්මයෙන් නමස්කාර කළ යුතු ස්ථානයක් බව ය.
   (4) දෙව් මැඳුර සැමවිට සමාජසේවා කටයුතුවලට විවෘත කළ යුතු බව ය.

15. ජේසුස් වහන්සේ පිළිබඳ නිවැරදි දැක්ම කරා ගෝලයන් ගෙන ඒමට අදාළ වූ වැදගත් සිද්ධිය වනුයේ,
   (1) ජේසුස් වහන්සේගේ බෞතීස්ම අවස්ථාව ය.
   (2) පරීක්ෂාවන් ජයගත් අවස්ථාව ය.
   (3) ගෙත්සෙමන උයනේ යාච්ඤාවේ යෙදුණු අවස්ථාව ය.
   (4) ජේසුස් වහන්සේගේ රූප විපර්යාසය වීමේ අවස්ථාව ය.

16. ජේසුස් වහන්සේ සිය සේවය ගැන ප්‍රථමයෙන් අනාවරණය කළ අවස්ථාව වූයේ,
   (1) කන්ද උඩ දේශනාව ය.
   (2) පරීක්ෂාවලට මුහුණ දුන් විට ය.
   (3) ධීවරයන් කැඳවූ අවස්ථාව ය.
   (4) නාසරත්හි සිනගෝග ප්‍රකාශය ය.

17. පහත සඳහන් කරුණු සැලකිල්ලට ගන්න.
   A - අවශ්‍යතා ඇති අය කෙරෙහි අනුකම්පා කිරීම
   B - ජාති කුලභේද අභිබවා උදව් වීම
   C - තමා සතු ධනය, කාලය හා සම්පත් අන් අය සඳහා වැය කිරීම
   D - තම වැඩකටයුතුවලට බාධා නොවන සේ ක්‍රියා කිරීම
   මින් යහපත් සමාරිතයාගේ උපමා කතාවෙන් කිතුනු අපට ඇති අභියෝග වන්නේ
   (1) A සහ B ය. (2) A සහ D ය. (3) B සහ C ය. (4) C සහ D ය.

18. යහපත් බැටළු එඬේරුන් වන කිතුනු නායකයන් තුළ දිස්විය යුතු ගුණාංගයක් **නොවන්නේ**,
   (1) නැතිවූවන් සොයා යෑම ය.
   (2) ප්‍රේමයෙන් කැපවීමෙන් රැළ බලා ගැනීම ය.
   (3) තමාගේ රැළ මගින් ප්‍රයෝජන ලබා ගැනීම ය.
   (4) සේවයට කැපවී, තමා බාරයේ ඇති අය ආරක්ෂා කිරීම ය.

19. පවුලක් තුළ තිබිය යුතු වගකීම් හා යුතුකම් පහත දැක්වේ.
   A - භාර්යාව සහ පුරුෂයා එකිනෙකා සමානාත්මතාවයෙන් හා ප්‍රේමයෙන් සැලකීම
   B - තම දරුවන් වරද කළත් ඔවුන් නිවැරදි බව ප්‍රකාශ කිරීම
   C - දරුවන් දෙමව්පියනට ගෞරවයෙන් කීකරු වීම
   D - අසල්වැසි නිවැසියන් හා සසඳා බලා තම පවුලේ උසස් බව ඒත්තු ගැනීම
   මෙයින් කිතුනු පවුලක තිබිය යුතු ගුණාංග විය යුත්තේ,
   (1) A සහ B ය. (2) A සහ C ය. (3) B සහ C ය. (4) C සහ D ය.

[තුන්වැනි පිටුව බලන්න

නව නිර්දේශය/புதிய பாடத்திட்டம்/New Syllabus

NEW

ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව
இலங்கைப் பரீட்சைத் திணைக்களம்
Department of Examinations, Sri Lanka

15 | S | I, II

අධ්‍යයන පොදු සහතික පත්‍ර (සාමාන්‍ය පෙළ) විභාගය, 2017 දෙසැම්බර්
கல்விப் பொதுத் தராதரப் பத்திர (சாதாரண தர)ப் பரீட்சை, 2017 டிசெம்பர்
General Certificate of Education (Ord. Level) Examination, December 2017

| | | |
|---|---|---|
| ක්‍රිස්තියානි ධර්මය | I, II | පැය තුනයි |
| கிறிஸ்தவம் | I, II | மூன்று மணித்தியாலம் |
| Christianity | I, II | *Three hours* |

## ක්‍රිස්තියානි ධර්මය I

**සැලකිය යුතුයි :**

(i) **සියලු ම** ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.
(ii) අංක **1** සිට **40** තෙක් ප්‍රශ්නවල, දී ඇති (1), (2), (3), (4) යන පිළිතුරුවලින් **නිවැරදි හෝ වඩාත් ගැළපෙන හෝ** පිළිතුර තෝරා ගන්න.
(iii) **ඔබට සැපයෙන පිළිතුරු පත්‍රයේ එක් එක් ප්‍රශ්නය සඳහා දී ඇති කව අතුරෙන් ඔබ තෝරාගත් පිළිතුරෙහි අංකයට සැසඳෙන කවය තුළ (×) ලකුණ යොදන්න.**
(iv) එම පිළිතුරු පත්‍රයේ පිටුපස දී ඇති අනෙක් උපදෙස් ද සැලකිල්ලෙන් කියවා, ඒවා ද පිළිපදින්න.

**1.** දෙවියන් වහන්සේගේ පණිවුඩකරුවන් ලෙස සැලකෙන්නේ,
(1) පරිසිවරුන් ය.
(2) දිවැසිවරුන් ය.
(3) සැන්හෙඩ්‍රින් සභිකයන් ය.
(4) ලෙවීවරුන් ය.

**2.** ජේසුස් වහන්සේගේ උපත සමග දිවැස්වැකි සම්පූර්ණ වූයේ,
(1) මෙසියස් වහන්සේගේ පැමිණීමෙනි.
(2) ස්නාවක ජොහන්ගේ පැමිණීමෙනි.
(3) දූෂිත ක්‍රියා අවසානයට පැමිණීමෙනි.
(4) රෝම අධිරාජ්‍යයේ පැමිණීමෙනි.

**3.** "බොහෝ දෙනා ඔහුගේ උත්පත්තිය නිමිත්තෙන් ප්‍රීති වන්නා හ." මෙයින් කියැවෙන්නේ,
(1) ජේසුස් වහන්සේගේ උපත ය.
(2) මෝසස්ගේ උපත ය.
(3) සාමුවෙල්ගේ උපත ය.
(4) ස්නාවක ජොහන්ගේ උපත ය.

**4.** සිමියොන් සහ අන්නා වැදගත් වන්නේ ඔවුන්,
(1) දිවැසිවරුන් වූ නිසා ය.
(2) ජෙරුසලමේ දේවමාලිගයේ විසූ අය නිසා ය.
(3) ජේසු බිළිඳා මෙසියස් ලෙස හඳුනාගෙන ප්‍රකාශ කළ නිසා ය.
(4) නිතර නිරාහාරව යාච්ඤාවේ යෙදුණු දැහැමි පුද්ගලයන් නිසා ය.

**5.** "අඳනා දෙකක් ඇති අය නැති අයට දෙත්වා, කෑම ඇති අය නැති අයට දෙත්වා" මෙයින් අප ලබන පණිවුඩය,
(1) ආපදා අවස්ථාවල දී කෑම ආදිය බෙදා හැරීම ය.
(2) තමා වෙත පැමිණෙන දුප්පතුන් ගැන කණගාටු වීම ය.
(3) බෙදා ගැනීම තුළින් ක්‍රිස්තුන් වහන්සේට පිදීමට ඉඩප්‍රස්තා ලැබීම ය.
(4) ඇඳුම් අවශ්‍යතා ඇති අසල්වැසියනට ඇඳුම් දෙකක් දීම ය.

**6.** "වගවලසුන් මැදට බැටළු පැටවුන් යවන්නාක් මෙන් මම ඔබ යවමි." ජේසුස් වහන්සේ මෙසේ සැත්තෑදෙනාට පැවසුවේ,
(1) සමාජයේ සැමදෙනා දුෂ්ටයන් බව දැක්වීමට ය.
(2) ධර්මදූත සේවයේ දී මුහුණපාන භාරදූර තත්ත්වය දැක්වීමට ය.
(3) යක්ෂාවේශ වූවන් හා පීඩිතයන්ගෙන් සමාජය ගහනබව දැක්වීමට ය.
(4) බැටළුවන් මෙන් අහිංසකව ක්‍රියා කිරීමේ වැදගත්කම දැක්වීමට ය.

**7.** ව්‍යවස්ථාව ඉක්මවා යන මනුෂ්‍යත්වයේ වැදගත් බව පරිසිවරුන්ට අවධාරණය කළේ,
(1) සබත් දින අතක් පණ නැති මිනිසා සුව කිරීමෙනි.
(2) ලෙවී කැඳවූ අවස්ථාවෙනි.
(3) අන්ධ බර්තේමියුස් සුව කිරීමෙනි.
(4) ශතාධිපතියාගේ දාසයා සුව කිරීමෙනි.

**8.** දේව රාජ්‍යයේ ප්‍රතිපත්ති ජනතාවට වටහා දීමට භාවිත කළ උපමා වන්නේ,
(1) අකීකරු පුත්‍රයා සහ තලෙන්ත පිළිබඳ උපමා ය.
(2) යහපත් සමාරිතයා සහ මහා මංගල භෝජනය යන උපමා ය.
(3) නැති වූවන් සොයා යෑමේ උපමා සහ මහා මංගල භෝජනය යන උපමා ය.
(4) අයකැමියා හා පරිසියා සහ නැති වූ කාසිය යන උපමා ය.

[දෙවැනි පිටුව බලන්න